

# අ.පො.ස (සා.පෙළ) විභාගය - 2017

# ඇගයීම් වාර්තාව

# 33 - ඉතිහාසය




පර්යේෂණ හා සංවර්ධන ශාඛාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව,
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව.

# අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2017

# ඇගයීම් වාර්තාව

# 33 - ඉතිහාසය




**පර්යේෂණ හා සංවර්ධන ශාඛාව**
**ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,**
**ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව.**

# හැඳින්වීම

ශ්‍රී ලංකාවේ ප්‍රසිද්ධ විභාග අතුරින් වැඩි ම අයදුම්කරුවන් සංඛ්‍යාවක් පෙනී සිටින්නේ අ.පො.ස.(සා.පෙළ) විභාගය සඳහා ය. ජාතික මට්ටමින් පැවැත්වෙන මෙම විභාගයේ ප්‍රතිඵල මත නිකුත් කෙරෙන සහතිකය, උසස් අධ්‍යාපනය සඳහා සුදුස්සන් තෝරා ගැනීමට පමණක් නොව මධ්‍යම මට්ටමේ රැකියා අවස්ථා ලබාගැනීමට ද ජාතික හා ජාත්‍යන්තර විශ්වවිද්‍යාලවල සමහර පාඨමාලා හැදෑරීමට මූලික සුදුසුකමක් ලෙස සැලකෙන මිනුම් දණ්ඩක් වශයෙන් ද පිළිගැනේ. මෙලෙස පිළිගැනෙන්නේ මෙම විභාගයේ ඇති වලංගුතාව හා විශ්වසනීයතාව මෙන් ම ඉහළ ගුණාත්මක බව ද හේතුවෙනි.

මෙම විභාගයෙන් උසස් සාධන මට්ටමක් ලබා ගැනීම සඳහා සිසුහු ද ඔවුන්ගේ එම අපේක්ෂා සපුරාලීම සඳහා ගුරුවරු හා දෙමව්පියෝ ද දැඩි වෙහෙසක් දරති. මෙම ඇගයීම් වාර්තාව සකස්කර ඇත්තේ ඔවුන්ගේ එම අපේක්ෂා ඉටුකරගැනීම පිණිස ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ සහාය දීමක් වශයෙනි. මෙම ඇගයීම් වාර්තාවේ ඇතුළත් තොරතුරු විභාග අපේක්ෂකයින්ට, ගුරු භවතුන්ට, විදුහල්පතිවරුන්ට, ගුරු උපදේශක මහත්ම මහත්මීන්ට, විෂයභාර අධ්‍යක්ෂවරුන්ට, දෙගුරුන්ට හා අධ්‍යාපන පර්යේෂකයින්ට එක සේ ප්‍රයෝජනවත් වනු නොඅනුමාන ය. මේ නිසා මෙම වාර්තාව වැඩි පිරිසකගේ පරිශීලනය සඳහා පුස්තකාලයට යොමු කිරීම වඩාත් සුදුසු වේ.

මෙම ඇගයීම් වාර්තාව කොටස් තුනකින් යුක්ත වන අතර විෂය අභිමතාර්ථ සහ විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු ද මෙම විෂයයෙහි ප්‍රශ්න පත්‍ර ඇසුරෙන් අයදුම්කරුවන්ගේ සාධනය, එක් එක් ප්‍රශ්නය සඳහා වෙන් වෙන්ව ද මෙහි I කොටසෙහි ඇතුළත් වේ. ඇගයීම් හා පරීක්ෂණ ක්ෂේත්‍රයේ භාවිත වන සම්භාව්‍ය පරීක්ෂණ න්‍යාය (Classical Test Theory) සහ අයිතම ප්‍රතිචාර න්‍යාය (Item Response Theory) පදනම් කරගෙන, විභාග දෙපාර්තමේන්තුවේ පර්යේෂණ හා සංවර්ධන ශාඛාව මඟින් මෙම විශ්ලේෂණ සිදුකර ඇත.

ඉතිහාසය විෂයයෙහි I හා II ප්‍රශ්න පත්‍ර සඳහා අපේක්ෂිත පිළිතුරු, ලකුණු දීමේ පටිපාටි, පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, නිගමන හා ප්‍රතිපෝෂණය සඳහා වූ යෝජනාවලින් මෙම වාර්තාවෙහි II කොටස සමන්විත වේ.

ප්‍රශ්න පත්‍රවල එක් එක් ප්‍රශ්නයට පිළිතුරු සැපයීමේ දී අපේක්ෂකයන් සැලකිලිමත් විය යුතු කරුණු ද ඉගෙනුම් ඉගැන්වීම් කාර්යය පිළිබඳ අදහස් හා යෝජනා ද මෙම වාර්තාවෙහි III කොටසෙහි ඇතුළත් කර ඇත. විවිධ නිපුණතා හා එම නිපුණතා මට්ටම්වලට ළඟාවීම සඳහා ඉගෙනුම් හා ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කරගත යුතු ආකාරය පිළිබඳ ව මෙයින් මහත් පිටිවහලක් ලැබෙනු ඇතැයි සිතමි.

මෙම වාර්තාවේ ගුණාත්මක බව වැඩි දියුණු කිරීම සඳහා එලදායී අදහස් හා යෝජනා අප වෙත යොමුකරන ලෙස ඉල්ලමි. මෙම වාර්තාව සකස් කිරීම සඳහා කැප වූ පාලක පරීක්ෂකවරුන් ඇතුළු සම්පත් දායකයින්ටත් RD ආකෘති මගින් තොරතුරු සැපයූ ප්‍රධාන/ අතිරේක ප්‍රධාන/ සහකාර පරීක්ෂකවරුන්ටත් ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ නිලධාරීන් ඇතුළු කාර්ය මණ්ඩලයේ සියලු ම දෙනාටත් මාගේ හෘදයංගම ස්තුතිය පළ කරමි.

බී. සනත් පූජිත
විභාග කොමසාරිස් ජනරාල්

2019 සැප්තැම්බර් 30
පර්යේෂණ හා සංවර්ධන ශාඛාව,
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව,
පැලවත්ත,
බත්තරමුල්ල.

| | | |
|---|---|---|
| **උපදේශකත්වය** | : | බී. සනත් පූජිත<br>විභාග කොමසාරිස් ජනරාල් |
| **මෙහෙයවීම හා සංවිධානය** | : | ගයාත්‍රි අබේගුණසේකර<br>විභාග කොමසාරිස්<br>(පර්යේෂණ හා සංවර්ධන) |
| **සම්බන්ධීකරණය** | : | එස්. ප්‍රනවදාසන්<br>නියෝජ්‍ය විභාග කොමසාරිස් |
| **විෂය සම්බන්ධීකරණය** | : | පී.ඒ. වෙනුර චන්දික<br>සහකාර විභාග කොමසාරිස් |
| **සංස්කරණය** | : | මහාචාර්ය යූ.බී. කරුණානන්ද<br>සේවා සම්මානිත මහාචාර්ය (ඉතිහාසය)<br>කැළණිය විශ්ව විද්‍යාලය<br><br>ආර්.ඒ. චන්ද්‍රසිරි (විශ්‍රාමික)<br>කලාප අධ්‍යාපන කාර්යාලය, මීනුවන්ගොඩ |
| **සැකසුම් කමිටුව** | : | එච්. අරුණ ඉන්ද්‍රසේන<br>ගුරු උපදේශක<br>කලාප අධ්‍යාපන කාර්යාලය<br>බලංගොඩ<br><br>එච්.එම්.එස්.එන්. හේරත්<br>ගුරු සේවය<br>ව/ගිරි/ අයිරා අමරසේකර මහ විද්‍යාලය<br>පැන්තැනිගොඩ<br>නාරම්මල<br><br>අයි.ඩී. ජේ.පී. ඉද්දමල්ගොඩ<br>ගුරු සේවය<br>ර/ පත්බේරිය නාරද මධ්‍ය මහ විද්‍යාලය<br>පත්බේරිය,<br>පරකඩුව<br><br>ජී.ඩබ්. නිමලාවතී<br>ගුරු සේවය<br>මාර/ මාරඹ මහා විද්‍යාලය<br>මාරඹ<br>අකුරැස්ස<br><br>කේ.කේ. කුසුමලතා<br>ගුරු සේවය<br>මාර/ යටියන මහ විද්‍යාලය<br>යටියන<br>මාතර<br><br>එම්. චන්ද්‍රාවතී<br>ගුරු සේවය<br>ර/ ශාන්ත ඇලෝසියස් ජාතික පාසල<br>රත්නපුරය |
| **පරිගණක පිටපත සැකසුම** | : | පී. මධුශානී මණ්ඩලවත්ත<br>පරිගණක දත්ත සටහන් ක්‍රියාකරු |

# ඇතුළත පිටු

පිටු අංකය

# I කොටස

## 1. විෂය අභිමතාර්ථ හා විෂය සාධනය පිළිබඳ තොරතුරු

### 1.1 ඉතිහාසය විෂයයෙහි අභිමතාර්ථ

- ★ ඓතිහාසික විකාශය හා ප්‍රවණතා පිළිබඳ විමර්ශනයෙහි යෙදෙයි.
- ★ වර්තමානය තේරුම් ගැනීම සඳහා අතීතය පිළිබඳ විමර්ශනාත්මක දැනුම උපයෝගී කර ගනියි.
- ★ ජාතික ප්‍රශ්න දෙස තුලනාත්මක ව විමසා බලමින් කටයුතු කරයි.
- ★ වැදගත් ඓතිහාසික පුද්ගලයන්ගේ චරිතාපදාන ආදර්ශයට ගෙන කටයුතු කරයි.
- ★ ජාතික අනන්‍යතාව හඳුනාගෙන ඒවා අගය කරමින් චරිතායනය කරයි.
- ★ ඉතිහාසයේ අත්දැකීම් වර්තමාන සංසිද්ධි සඳහා ඵලදායි ලෙස භාවිත කරයි.
- ★ ශ්‍රී ලංකාවේ ඓතිහාසික වටිනාකම් හා හර පද්ධති පිළිබඳ අභිමානවත් හැඟුමින් යුක්තව කටයුතු කරයි.
- ★ විචාරශීලී හා විවේචනාත්මක චින්තන සංකල්ප වර්ධනය කර ගනියි.
- ★ ඓතිහාසික තොරතුරු ඇසුරින් ස්ථාන හඳුනාගැනීමේ හැකියාව දියුණු කරයි.

## 1.2 විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු

### 1.2.1 විෂය සඳහා පෙනී සිටි අයදුම්කරුවන් සංඛ්‍යාව

| මාධ්‍යය | පාසල් | පෞද්ගලික | එකතුව |
|---|---|---|---|
| සිංහල | 241253 | 2184 | 243437 |
| දෙමළ | 71916 | 6139 | 78055 |
| ඉංග්‍රීසි | 491 | 5605 | 6096 |
| එකතුව | **313660** | **13928** | **327588** |

වගුව 1

### 1.2.2 අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය

| ශ්‍රේණිය | පාසල් අයදුම්කරුවන් | | පෞද්ගලික අයදුම්කරුවන් | | එකතුව | ප්‍රතිශතය |
|---|---|---|---|---|---|---|
| | සංඛ්‍යාව | ප්‍රතිශතය | සංඛ්‍යාව | ප්‍රතිශතය | | |
| A | 64671 | 20.62 | 1004 | 7.21 | 65675 | 20.05 |
| B | 37286 | 11.89 | 848 | 6.09 | 38134 | 11.64 |
| C | 70407 | 22.45 | 2116 | 15.19 | 72523 | 22.14 |
| S | 78556 | 25.04 | 3959 | 28.42 | 82515 | 25.19 |
| W | 62740 | 20.00 | 6001 | 43.09 | 68741 | 20.98 |
| එකතුව | **313660** | **100.00** | **13928** | **100.00** | **327588** | **100.00** |

වගුව 2

1.2.3 ප්‍රථම වරට පෙනීසිටි පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය - දිස්ත්‍රික්ක අනුව

| දිස්ත්‍රික්කය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | අසමත් (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 1. කොළඹ | 33223 | 10483 | 31.55 | 4411 | 13.28 | 7052 | 21.23 | 6104 | 18.37 | 28050 | 84.43 | 5173 | 15.57 |
| 2. ගම්පහ | 28518 | 7073 | 24.80 | 3590 | 12.59 | 6404 | 22.46 | 6227 | 21.84 | 23294 | 81.68 | 5224 | 18.32 |
| 3. කළුතර | 16945 | 4224 | 24.93 | 2186 | 12.90 | 3716 | 21.93 | 3817 | 22.53 | 13943 | 82.28 | 3002 | 17.72 |
| 4. මහනුවර | 20979 | 4805 | 22.90 | 2702 | 12.88 | 4882 | 23.27 | 4830 | 23.02 | 17219 | 82.08 | 3760 | 17.92 |
| 5. මාතලේ | 7311 | 1263 | 17.28 | 850 | 11.63 | 1818 | 24.87 | 1936 | 26.48 | 5867 | 80.25 | 1444 | 19.75 |
| 6. නුවරඑළිය | 10684 | 1564 | 14.64 | 1148 | 10.75 | 2524 | 23.62 | 3102 | 29.03 | 8338 | 78.04 | 2346 | 21.96 |
| 7. ගාල්ල | 15539 | 4269 | 27.47 | 2092 | 13.46 | 3525 | 22.68 | 3385 | 21.78 | 13271 | 85.40 | 2268 | 14.60 |
| 8. මාතර | 11768 | 3390 | 28.81 | 1711 | 14.54 | 2783 | 23.65 | 2413 | 20.50 | 10297 | 87.50 | 1471 | 12.50 |
| 9. හම්බන්තොට | 8916 | 2160 | 24.23 | 1381 | 15.49 | 2299 | 25.79 | 1937 | 21.72 | 7777 | 87.23 | 1139 | 12.77 |
| 10. යාපනය | 9178 | 1599 | 17.42 | 897 | 9.77 | 1684 | 18.35 | 2235 | 24.35 | 6415 | 69.90 | 2763 | 30.10 |
| 11. කිලිනොච්චි | 2483 | 200 | 8.05 | 175 | 7.05 | 435 | 17.52 | 670 | 26.98 | 1480 | 59.61 | 1003 | 40.39 |
| 12. මන්නාරම | 1751 | 185 | 10.57 | 164 | 9.37 | 320 | 18.28 | 579 | 33.07 | 1248 | 71.27 | 503 | 28.73 |
| 13. වව්නියාව | 2704 | 381 | 14.09 | 259 | 9.58 | 555 | 20.53 | 780 | 28.85 | 1975 | 73.04 | 729 | 26.96 |
| 14. මුලතිව් | 1882 | 210 | 11.16 | 141 | 7.49 | 348 | 18.49 | 532 | 28.27 | 1231 | 65.41 | 651 | 34.59 |
| 15. මඩකලපුව | 8054 | 972 | 12.07 | 750 | 9.31 | 1564 | 19.42 | 2356 | 29.25 | 5642 | 70.05 | 2412 | 29.95 |
| 16. අම්පාර | 9241 | 1530 | 16.56 | 1035 | 11.20 | 2373 | 25.68 | 2636 | 28.53 | 7574 | 81.96 | 1667 | 18.04 |
| 17. ත්‍රිකුණාමලය | 6982 | 888 | 12.72 | 747 | 10.70 | 1507 | 21.58 | 1964 | 28.13 | 5106 | 73.13 | 1876 | 26.87 |
| 18. කුරුණෑගල | 24144 | 5215 | 21.60 | 3217 | 13.32 | 6117 | 25.34 | 6021 | 24.94 | 20570 | 85.20 | 3574 | 14.80 |
| 19. පුත්තලම | 10605 | 1863 | 17.57 | 1157 | 10.91 | 2336 | 22.03 | 2833 | 26.71 | 8189 | 77.22 | 2416 | 22.78 |
| 20. අනුරාධපුරය | 13431 | 2253 | 16.77 | 1724 | 12.84 | 3289 | 24.49 | 3526 | 26.25 | 10792 | 80.35 | 2639 | 19.65 |
| 21. පොළොන්නරුව | 6018 | 838 | 13.92 | 690 | 11.47 | 1471 | 24.44 | 1742 | 28.95 | 4741 | 78.78 | 1277 | 21.22 |
| 22. බදුල්ල | 12758 | 2291 | 17.96 | 1580 | 12.38 | 3102 | 24.31 | 3327 | 26.08 | 10300 | 80.73 | 2458 | 19.27 |
| 23. මොනරාගල | 6710 | 1188 | 17.70 | 834 | 12.43 | 1630 | 24.29 | 1682 | 25.07 | 5334 | 79.49 | 1376 | 20.51 |
| 24. රත්නපුරය | 14861 | 3312 | 22.29 | 1965 | 13.22 | 3526 | 23.73 | 3433 | 23.10 | 12236 | 82.34 | 2625 | 17.66 |
| 25. කෑගල්ල | 12082 | 2450 | 20.28 | 1636 | 13.54 | 3107 | 25.72 | 2967 | 24.56 | 10160 | 84.09 | 1922 | 15.91 |
| **සමස්ත දිවයින** | **296767** | **64606** | **21.77** | **37042** | **12.48** | **68367** | **23.04** | **71034** | **23.94** | **241049** | **81.23** | **55718** | **18.77** |

වගුව 3

1.2.4 ප්‍රථමවරට පෙනී සිටි පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය - අධ්‍යාපන කලාප අනුව

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 1. කොළඹ | 14893 | 5693 | 38.23 | 1896 | 12.73 | 2804 | 18.83 | 2257 | 15.15 | 12650 | 84.94 | 2243 | 15.06 |
| 2. හෝමාගම | 4609 | 1171 | 25.41 | 610 | 13.23 | 981 | 21.28 | 954 | 20.70 | 3716 | 80.62 | 893 | 19.38 |
| 3. ශ්‍රී ජයවර්ධනපුර | 7734 | 2176 | 28.14 | 1116 | 14.43 | 1877 | 24.27 | 1550 | 20.04 | 6719 | 86.88 | 1015 | 13.12 |
| 4. පිළියන්දල | 5987 | 1443 | 24.10 | 789 | 13.18 | 1390 | 23.22 | 1343 | 22.43 | 4965 | 82.93 | 1022 | 17.07 |
| 5. ගම්පහ | 8235 | 2809 | 34.11 | 1077 | 13.08 | 1582 | 19.21 | 1576 | 19.14 | 7044 | 85.54 | 1191 | 14.46 |
| 6 මිනුවන්ගොඩ | 5452 | 1016 | 18.64 | 721 | 13.22 | 1414 | 25.94 | 1273 | 23.35 | 4424 | 81.14 | 1028 | 18.86 |
| 7. මීගමුව | 7345 | 1534 | 20.88 | 837 | 11.40 | 1690 | 23.01 | 1677 | 22.83 | 5738 | 78.12 | 1607 | 21.88 |
| 8. කැලණිය | 7486 | 1714 | 22.90 | 955 | 12.76 | 1718 | 22.95 | 1701 | 22.72 | 6088 | 81.33 | 1398 | 18.67 |
| 9. කළුතර | 8397 | 1973 | 23.50 | 1060 | 12.62 | 1806 | 21.51 | 1961 | 23.35 | 6800 | 80.98 | 1597 | 19.02 |
| 10. මතුගම | 3358 | 932 | 27.75 | 454 | 13.52 | 739 | 22.01 | 716 | 21.32 | 2841 | 84.60 | 517 | 15.40 |
| 11. හොරණ | 5190 | 1319 | 25.41 | 672 | 12.95 | 1171 | 22.56 | 1140 | 21.97 | 4302 | 82.89 | 888 | 17.11 |
| 12. මහනුවර | 7572 | 2921 | 38.58 | 1152 | 15.21 | 1645 | 21.72 | 1157 | 15.28 | 6875 | 90.80 | 697 | 9.20 |
| 13. දෙනුවර | 2157 | 293 | 13.58 | 281 | 13.03 | 580 | 26.89 | 573 | 26.56 | 1727 | 80.06 | 430 | 19.94 |
| 14. ගම්පොල | 3550 | 442 | 12.45 | 364 | 10.25 | 800 | 22.54 | 1003 | 28.25 | 2609 | 73.49 | 941 | 26.51 |
| 15. තෙල්දෙණිය | 1788 | 221 | 12.36 | 208 | 11.63 | 448 | 25.06 | 520 | 29.08 | 1397 | 78.13 | 391 | 21.87 |
| 16. වත්තේගම | 2758 | 435 | 15.77 | 343 | 12.44 | 659 | 23.89 | 750 | 27.19 | 2187 | 79.30 | 571 | 20.70 |
| 17. කටුගස්තොට | 3154 | 493 | 15.63 | 354 | 11.22 | 750 | 23.78 | 827 | 26.22 | 2424 | 76.85 | 730 | 23.15 |
| 18. මාතලේ | 3900 | 909 | 23.31 | 466 | 11.95 | 952 | 24.41 | 930 | 23.85 | 3257 | 83.51 | 643 | 16.49 |
| 19. ගලේවෙල | 2269 | 220 | 9.70 | 268 | 11.81 | 588 | 25.91 | 681 | 30.01 | 1757 | 77.43 | 512 | 22.57 |
| 20. නාඋල | 539 | 59 | 10.95 | 51 | 9.46 | 139 | 25.79 | 164 | 30.43 | 413 | 76.62 | 126 | 23.38 |
| 21. විල්ගමුව | 603 | 75 | 12.44 | 65 | 10.78 | 139 | 23.05 | 161 | 26.70 | 440 | 72.97 | 163 | 27.03 |
| 22. නුවරඑළිය | 3078 | 371 | 12.05 | 309 | 10.04 | 759 | 24.66 | 965 | 31.35 | 2404 | 78.10 | 674 | 21.90 |
| 23. කොත්මලේ | 1494 | 210 | 14.06 | 149 | 9.97 | 334 | 22.36 | 442 | 29.59 | 1135 | 75.97 | 359 | 24.03 |
| 24. හැටන් | 2995 | 428 | 14.29 | 351 | 11.72 | 727 | 24.27 | 869 | 29.02 | 2375 | 79.30 | 620 | 20.70 |
| 25. වලපනේ | 1399 | 158 | 11.29 | 136 | 9.72 | 370 | 26.45 | 419 | 29.95 | 1083 | 77.41 | 316 | 22.59 |
| 26. හඟුරන්කෙත | 1718 | 397 | 23.11 | 203 | 11.82 | 334 | 19.44 | 407 | 23.69 | 1341 | 78.06 | 377 | 21.94 |
| 27. ගාල්ල | 7199 | 2601 | 36.13 | 970 | 13.47 | 1452 | 20.17 | 1288 | 17.89 | 6311 | 87.66 | 888 | 12.34 |
| 28. ඇල්පිටිය | 3279 | 553 | 16.86 | 461 | 14.06 | 840 | 25.62 | 831 | 25.34 | 2685 | 81.88 | 594 | 18.12 |
| 29. අම්බලන්ගොඩ | 3291 | 790 | 24.00 | 428 | 13.01 | 774 | 23.52 | 797 | 24.22 | 2789 | 84.75 | 502 | 15.25 |
| 30. උඩුගම | 1770 | 325 | 18.36 | 233 | 13.16 | 459 | 25.93 | 469 | 26.50 | 1486 | 83.95 | 284 | 16.05 |
| 31. මාතර | 5328 | 1929 | 36.20 | 809 | 15.18 | 1155 | 21.68 | 928 | 17.42 | 4821 | 90.48 | 507 | 9.52 |
| 32. අකුරැස්ස | 2065 | 541 | 26.20 | 234 | 11.33 | 524 | 25.38 | 469 | 22.71 | 1768 | 85.62 | 297 | 14.38 |
| 33. මුලටියන-හක්මණ | 2203 | 555 | 25.19 | 354 | 16.07 | 546 | 24.78 | 467 | 21.20 | 1922 | 87.24 | 281 | 12.76 |
| 34. මොරවක-දෙනියාය | 2172 | 365 | 16.80 | 314 | 14.46 | 558 | 25.69 | 549 | 25.28 | 1786 | 82.23 | 386 | 17.77 |
| 35. තංගල්ල | 2452 | 608 | 24.80 | 427 | 17.41 | 618 | 25.20 | 512 | 20.88 | 2165 | 88.30 | 287 | 11.70 |
| 36. හම්බන්තොට | 3981 | 750 | 18.84 | 574 | 14.42 | 1021 | 25.65 | 952 | 23.91 | 3297 | 82.82 | 684 | 17.18 |

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 37. වලස්මුල්ල | 2483 | 802 | 32.30 | 380 | 15.30 | 660 | 26.58 | 473 | 19.05 | 2315 | 93.23 | 168 | 6.77 |
| 38. යාපනය | 3246 | 688 | 21.20 | 369 | 11.37 | 638 | 19.65 | 748 | 23.04 | 2443 | 75.26 | 803 | 24.74 |
| 39. දූපත් | 652 | 36 | 5.52 | 30 | 4.60 | 96 | 14.72 | 169 | 25.92 | 331 | 50.77 | 321 | 49.23 |
| 40. තෙන්මාරච්චි | 930 | 151 | 16.24 | 107 | 11.51 | 163 | 17.53 | 217 | 23.33 | 638 | 68.60 | 292 | 31.40 |
| 41. වලිකාමන් | 2801 | 356 | 12.71 | 228 | 8.14 | 475 | 16.96 | 734 | 26.20 | 1793 | 64.01 | 1008 | 35.99 |
| 42. වඩමරච්චි | 1549 | 368 | 23.76 | 163 | 10.52 | 312 | 20.14 | 367 | 23.69 | 1210 | 78.11 | 339 | 21.89 |
| 43. කිලිනොච්චි | 2483 | 200 | 8.05 | 175 | 7.05 | 435 | 17.52 | 670 | 26.98 | 1480 | 59.61 | 1003 | 40.39 |
| 44. මන්නාරම | 1374 | 174 | 12.66 | 144 | 10.48 | 263 | 19.14 | 452 | 32.90 | 1033 | 75.18 | 341 | 24.82 |
| 45. මඩු | 377 | 11 | 2.92 | 20 | 5.31 | 57 | 15.12 | 127 | 33.69 | 215 | 57.03 | 162 | 42.97 |
| 46. වව්නියාව දකුණ | 2154 | 348 | 16.16 | 216 | 10.03 | 447 | 20.75 | 603 | 27.99 | 1614 | 74.93 | 540 | 25.07 |
| 47. වව්නියාව උතුර | 550 | 33 | 6.00 | 43 | 7.82 | 108 | 19.64 | 177 | 32.18 | 361 | 65.64 | 189 | 34.36 |
| 48. මුලතිව් | 1277 | 163 | 12.76 | 101 | 7.91 | 236 | 18.48 | 358 | 28.03 | 858 | 67.19 | 419 | 32.81 |
| 49. තුනුක්කායි | 605 | 47 | 7.77 | 40 | 6.61 | 112 | 18.51 | 174 | 28.76 | 373 | 61.65 | 232 | 38.35 |
| 50. මඩකලපුව | 2316 | 377 | 16.28 | 228 | 9.84 | 493 | 21.29 | 649 | 28.02 | 1747 | 75.43 | 569 | 24.57 |
| 51. කල්කුඩා | 1392 | 69 | 4.96 | 77 | 5.53 | 154 | 11.06 | 422 | 30.32 | 722 | 51.87 | 670 | 48.13 |
| 52. පදිරිප්පු | 1481 | 213 | 14.38 | 185 | 12.49 | 329 | 22.21 | 411 | 27.75 | 1138 | 76.84 | 343 | 23.16 |
| 53. මඩකලපුව (මධ්‍යම) | 1963 | 273 | 13.91 | 207 | 10.55 | 434 | 22.11 | 582 | 29.65 | 1496 | 76.21 | 467 | 23.79 |
| 54. මඩකලපුව (බටහිර) | 902 | 40 | 4.43 | 53 | 5.88 | 154 | 17.07 | 292 | 32.37 | 539 | 59.76 | 363 | 40.24 |
| 55. අම්පාර | 2545 | 369 | 14.50 | 309 | 12.14 | 674 | 26.48 | 704 | 27.66 | 2056 | 80.79 | 489 | 19.21 |
| 56. කල්මුනේ | 2412 | 545 | 22.60 | 281 | 11.65 | 615 | 25.50 | 605 | 25.08 | 2046 | 84.83 | 366 | 15.17 |
| 57. සමන්තුරෙයි | 1417 | 184 | 12.99 | 142 | 10.02 | 316 | 22.30 | 441 | 31.12 | 1083 | 76.43 | 334 | 23.57 |
| 58. මහඔය | 613 | 58 | 9.46 | 63 | 10.28 | 168 | 27.41 | 215 | 35.07 | 504 | 82.22 | 109 | 17.78 |
| 59. දෙහිඅත්තකණ්ඩිය | 966 | 151 | 15.63 | 98 | 10.14 | 264 | 27.33 | 281 | 29.09 | 794 | 82.19 | 172 | 17.81 |
| 60. අක්කරෙයිපත්තුව | 1288 | 223 | 17.31 | 142 | 11.02 | 336 | 26.09 | 390 | 30.28 | 1091 | 84.70 | 197 | 15.30 |
| 61. තිරුක්කෝවිල් | 919 | 100 | 10.88 | 101 | 10.99 | 196 | 21.33 | 292 | 31.77 | 689 | 74.97 | 230 | 25.03 |
| 62. ත්‍රිකුණාමලය | 1865 | 390 | 20.91 | 260 | 13.94 | 410 | 21.98 | 463 | 24.83 | 1523 | 81.66 | 342 | 18.34 |
| 63. මුතූර් | 1181 | 124 | 10.50 | 110 | 9.31 | 279 | 23.62 | 350 | 29.64 | 863 | 73.07 | 318 | 26.93 |
| 64. කන්තලේ | 992 | 106 | 10.69 | 106 | 10.69 | 230 | 23.19 | 327 | 32.96 | 769 | 77.52 | 223 | 22.48 |
| 65. කින්නියා | 1412 | 122 | 8.64 | 114 | 8.07 | 253 | 17.92 | 362 | 25.64 | 851 | 60.27 | 561 | 39.73 |
| 66. ත්‍රිකුණාමලය (උතුර) | 613 | 46 | 7.50 | 56 | 9.14 | 139 | 22.68 | 170 | 27.73 | 411 | 67.05 | 202 | 32.95 |
| 67. කුරුණෑගල | 5944 | 1713 | 28.82 | 854 | 14.37 | 1404 | 23.62 | 1256 | 21.13 | 5227 | 87.94 | 717 | 12.06 |
| 68. කුලියාපිටිය | 4271 | 1008 | 23.60 | 564 | 13.21 | 1048 | 24.54 | 1070 | 25.05 | 3690 | 86.40 | 581 | 13.60 |
| 69. නිකවැරටිය | 3068 | 593 | 19.33 | 445 | 14.50 | 823 | 26.83 | 785 | 25.59 | 2646 | 86.25 | 422 | 13.75 |
| 70. මහව | 3716 | 527 | 14.18 | 495 | 13.32 | 1084 | 29.17 | 1051 | 28.28 | 3157 | 84.96 | 559 | 15.04 |
| 71. ගිරිඋල්ල | 4070 | 866 | 21.28 | 529 | 13.00 | 1036 | 25.45 | 966 | 23.73 | 3397 | 83.46 | 673 | 16.54 |
| 72. ඉබ්බාගමුව | 3075 | 508 | 16.52 | 330 | 10.73 | 722 | 23.48 | 893 | 29.04 | 2453 | 79.77 | 622 | 20.23 |

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 73. පුත්තලම | 5102 | 625 | 12.25 | 490 | 9.60 | 1073 | 21.03 | 1459 | 28.60 | 3647 | 71.48 | 1455 | 28.52 |
| 74. හලාවත | 5503 | 1238 | 22.50 | 667 | 12.12 | 1263 | 22.95 | 1374 | 24.97 | 4542 | 82.54 | 961 | 17.46 |
| 75. අනුරාධපුරය | 4780 | 1117 | 23.37 | 650 | 13.60 | 1080 | 22.59 | 1101 | 23.03 | 3948 | 82.59 | 832 | 17.41 |
| 76. තඹුත්තේගම | 2396 | 321 | 13.40 | 288 | 12.02 | 535 | 22.33 | 681 | 28.42 | 1825 | 76.17 | 571 | 23.83 |
| 77. කැකිරාව | 2551 | 422 | 16.54 | 317 | 12.43 | 589 | 23.09 | 686 | 26.89 | 2014 | 78.95 | 537 | 21.05 |
| 78. ගලෙන්බිඳුනුවැව | 1708 | 189 | 11.07 | 203 | 11.89 | 561 | 32.85 | 492 | 28.81 | 1445 | 84.60 | 263 | 15.40 |
| 79. කැබිතිගොල්ලෑව | 1996 | 204 | 10.22 | 266 | 13.33 | 524 | 26.25 | 566 | 28.36 | 1560 | 78.16 | 436 | 21.84 |
| 80. පොළොන්නරුව | 1925 | 364 | 18.91 | 250 | 12.99 | 443 | 23.01 | 491 | 25.51 | 1548 | 80.42 | 377 | 19.58 |
| 81. හිඟුරක්ගොඩ | 2623 | 393 | 14.98 | 302 | 11.51 | 640 | 24.40 | 744 | 28.36 | 2079 | 79.26 | 544 | 20.74 |
| 82. දිඹුලාගල | 1470 | 81 | 5.51 | 138 | 9.39 | 388 | 26.39 | 507 | 34.49 | 1114 | 75.78 | 356 | 24.22 |
| 83. බදුල්ල | 2816 | 633 | 22.48 | 377 | 13.39 | 645 | 22.90 | 653 | 23.19 | 2308 | 81.96 | 508 | 18.04 |
| 84. බණ්ඩාරවෙල | 3528 | 835 | 23.67 | 453 | 12.84 | 824 | 23.36 | 816 | 23.13 | 2928 | 82.99 | 600 | 17.01 |
| 85. මහියංගනය | 1869 | 168 | 8.99 | 189 | 10.11 | 416 | 22.26 | 580 | 31.03 | 1353 | 72.39 | 516 | 27.61 |
| 86. වැලිමඩ | 2628 | 459 | 17.47 | 359 | 13.66 | 739 | 28.12 | 697 | 26.52 | 2254 | 85.77 | 374 | 14.23 |
| 87. පස්සර | 1120 | 142 | 12.68 | 128 | 11.43 | 275 | 24.55 | 322 | 28.75 | 867 | 77.41 | 253 | 22.59 |
| 88. වියළුව | 797 | 54 | 6.78 | 74 | 9.28 | 203 | 25.47 | 259 | 32.50 | 590 | 74.03 | 207 | 25.97 |
| 89. මොනරාගල | 2127 | 400 | 18.81 | 249 | 11.71 | 485 | 22.80 | 557 | 26.19 | 1691 | 79.50 | 436 | 20.50 |
| 90. වැල්ලවාය | 1679 | 282 | 16.80 | 208 | 12.39 | 423 | 25.19 | 412 | 24.54 | 1325 | 78.92 | 354 | 21.08 |
| 91. බිබිල | 1593 | 325 | 20.40 | 210 | 13.18 | 388 | 24.36 | 367 | 23.04 | 1290 | 80.98 | 303 | 19.02 |
| 92. තණමල්විල | 1311 | 181 | 13.81 | 167 | 12.74 | 334 | 25.48 | 346 | 26.39 | 1028 | 78.41 | 283 | 21.59 |
| 93. රත්නපුර | 6077 | 1727 | 28.42 | 800 | 13.16 | 1322 | 21.75 | 1224 | 20.14 | 5073 | 83.48 | 1004 | 16.52 |
| 94. බලන්ගොඩ | 2682 | 591 | 22.04 | 385 | 14.35 | 688 | 25.65 | 572 | 21.33 | 2236 | 83.37 | 446 | 16.63 |
| 95. නිවිතිගල | 2422 | 363 | 14.99 | 311 | 12.84 | 629 | 25.97 | 653 | 26.96 | 1956 | 80.76 | 466 | 19.24 |
| 96. ඇඹිලිපිටිය | 3680 | 631 | 17.15 | 469 | 12.74 | 887 | 24.10 | 984 | 26.74 | 2971 | 80.73 | 709 | 19.27 |
| 97. කෑගල්ල | 4754 | 1169 | 24.59 | 663 | 13.95 | 1208 | 25.41 | 1050 | 22.09 | 4090 | 86.03 | 664 | 13.97 |
| 98. මාවනැල්ල | 3782 | 714 | 18.88 | 507 | 13.41 | 981 | 25.94 | 972 | 25.70 | 3174 | 83.92 | 608 | 16.08 |
| 99. දෙහිඕවිට | 3546 | 567 | 15.99 | 466 | 13.14 | 918 | 25.89 | 945 | 26.65 | 2896 | 81.67 | 650 | 18.33 |
| **සමස්ත දිවයින** | **296767** | **64606** | **21.77** | **37042** | **12.48** | **68367** | **23.04** | **71034** | **23.94** | **241049** | **81.23** | **55718** | **18.77** |

වගුව 4

1.2.5 ලකුණු ලබාගෙන ඇති ආකාරය - පන්ති ප්‍රාන්තර අනුව

| පන්ති ප්‍රාන්තරය | සංඛ්‍යාතය | සංඛ්‍යාත ප්‍රතිශතය | සමුච්චිත සංඛ්‍යාතය | සමුච්චිත සංඛ්‍යාත ප්‍රතිශතය |
|---|---|---|---|---|
| 91-100 | 6655 | 2.03 | **327588** | 100.00 |
| 81-90 | 26640 | 8.13 | 320933 | 97.97 |
| 71-80 | 35822 | 10.94 | 294293 | 89.84 |
| 61-70 | 40456 | 12.35 | 258471 | 78.90 |
| 51-60 | 50205 | 15.33 | 218015 | 66.55 |
| 41-50 | 52126 | 15.91 | 167810 | 51.23 |
| **31-40** | **54221** | **16.55** | **115684** | **35.31** |
| 21-30 | 40679 | 12.42 | 61463 | 18.76 |
| 11-20 | 19338 | 5.90 | 20784 | 6.34 |
| 01-10 | 1432 | 0.44 | 1446 | 0.44 |
| 00-00 | 14 | 0.00 | 14 | 0.00 |

වගුව 5

ඉහත වගුවෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා : (31 - 40 පන්ති ප්‍රාන්තරය ගතහොත්)

මෙම විෂයය සඳහා පෙනී සිටි 327 588 දෙනා අතුරෙන්, 31 - 40 ප්‍රාන්තරය තුළ ලකුණු ලබා ඇති සංඛ්‍යාව 54 221කි. එය ප්‍රතිශතයක් වශයෙන් 16.55% කි. ලකුණු 40 හෝ ඊට අඩුවෙන් ලබා ඇති සංඛ්‍යාව 115 684ක් වන අතර, එය ප්‍රතිශතයක් වශයෙන් 35.31%කි.

## 1.3 විෂය සාධනය පිළිබඳ විශ්ලේෂණය

### 1.3.1 I පත්‍රය සඳහා සාධනය




ප්‍රස්තාරය 1 (RD/16/05/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

ඉහත ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා : මෙම ප්‍රශ්න පත්‍රයේ අයදුම්කරුවන් වැඩි ම සංඛ්‍යාවක් නිවැරදි ව පිළිතුරු සපයා ඇත්තේ 1 සහ 17 යන ප්‍රශ්නවලට ය. එහි ප්‍රතිශතය 82%කි.
එමෙන්ම අයදුම්කරුවන් අඩු ම සංඛ්‍යාවක් නිවැරදි ව පිළිතුරු සපයා ඇත්තේ 10 වන ප්‍රශ්නයටය. එහි ප්‍රතිශතය 30%කි.

### 1.3.2 II පත්‍රයෙහි ප්‍රශ්න තෝරාගෙන ඇති ආකාරය




ප්‍රස්තාරය 2 (RD/16/02/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

මෙම ප්‍රස්තාරයෙන් තොරතුරු ලබාගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා:- මෙහි 1 වන ප්‍රශ්නය අනිවාර්ය වන අතර එයට පිළිතුරු සපයා ඇති ප්‍රතිශතය 98.68% කි. අඩු ම අයදුම්කරුවන් සංඛ්‍යාවක් තෝරාගෙන ඇත්තේ 9 වන ප්‍රශ්නය යි. එම ප්‍රතිශතය 24.87%කි.

### 1.3.3. II පත්‍රයෙහි ප්‍රශ්න සඳහා ලකුණු ලබාගෙන ඇති ආකාරය




ප්‍රස්තාරය 3 (RD/16/02/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

මෙම ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා: මෙහි 01 වන ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 30කි. මෙම ප්‍රස්තාරයට අනුව 76% - 100% ප්‍රාන්තරයේ එනම් 23 - 30 තෙක් ලකුණු ලබා ගත් අයදුම්කරුවන් සංඛ්‍යාව 10.52%කි. 51% - 75% ප්‍රාන්තරයේ එනම් 16 - 22 තෙක් ලකුණු ලබා ගත් අයදුම්කරුවන් සංඛ්‍යාව 24.03%කි. 26% - 50% ප්‍රාන්තරයේ එනම් 8 - 15 තෙක් ලකුණු ලබා ගත් අයදුම්කරුවන් සංඛ්‍යාව 36.84%කි. 00% - 25% ප්‍රාන්තරයේ එනම් 0 - 7 තෙක් ලකුණු ලබා ගත් අයදුම්කරුවන් සංඛ්‍යාව 28.62%කි.

1.3.4 **II පත්‍රය සඳහා සාධනය**




**ප්‍රස්තාරය 4.1** (RD/16/04/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

ඉහත ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා : 01 ප්‍රශ්නයෙහි (අ) (i) අනුකොටසෙහි පහසුතාව 34%ක් වන අතර එම ප්‍රශ්නයේ (ආ) (i) C අනුකොටසේ පහසුතාව 74%ක් පමණ වේ.

## අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2017
## 33 - ඉතිහාසය
## II පත්‍රයේ ප්‍රශ්නවල එක් එක් කොටසෙහි පහසුතා දර්ශකය

පහසුතා දර්ශකය

1.0
0.9
0.8
0.7
0.6
0.5
0.4
0.3
0.2
0.1
0.0

(a) (b) A B C A B C D A B C D (a) (b) (a) (b) A B C D A B C

(i) (ii) (iii) (iv) (i) (ii) (iii) (iv) (i) (ii) (iii) (iv) (i) (ii) (iii) (iv) (i) (ii) (iii) (iv) (i) (ii) (iii) (iv)

2 3 4 5 6 7




ප්‍රස්තාරය 4.2


අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2017
33 - ඉතිහාසය
II පත්‍රයේ ප්‍රශ්නවල එක් එක් කොටසෙහි පහසුතා දර්ශකය
පහසුතා දර්ශකය
1.0
0.9
0.8
0.7
0.6
0.5
0.4
0.3
0.2
0.1
0.0
(i)
(ii)
(iii)
(iv)
8
(i)
A
B
(ii)
C
9
D
(iii)
(iv)
III කොටසේ ප්‍රශ්න කොටස් හා අනුකොටස් (ලෝක ඉතිහාසය)

ප්‍රස්තාරය 4.3

# II කොටස

## 2. ප්‍රශ්න හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

### 2.1 I පත්‍රය හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

#### 2.1.1. I පත්‍රයේ ව්‍යුහය

**කාලය පැය 01යි. මුළු ලකුණු 40කි.**

- ⋆ වරණ හතරක් සහිත බහුවරණ ප්‍රශ්න 40කින් සමන්විත වේ. එම එක් එක් ප්‍රශ්නයට දී ඇති (1), (2), (3), (4) වරණවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන වරණය තේරීම අපේක්ෂා කෙරේ.
- ⋆ සම්පූර්ණ විෂය නිර්දේශයම ආවරණය වන පරිදි ප්‍රශ්න සකස් කර ඇත.
- ⋆ ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු සැපයිය යුතුය.

## 2.1.2. I පත්‍රය

**1.** ක්‍රි.ව. හතරවන ශතවර්ෂයේදී පමණ රචනා කිරීම, තොරතුරු කෙටියෙන් දක්වා තිබීම, මෙරට පැරණිතම වංසකතාව වීම යන කරුණු අදාළ වන්නේ කවර මූලාශ්‍රයක් සම්බන්ධයෙන් ද?
(1) මහාවංසය (2) දීපවංසය (3) දාඨාවංසය (4) බෝධිවංසය

**2.** මෙරට ශාසන ඉතිහාසයට මුල් තැනක් දෙමින් රචිත ග්‍රන්ථයක් වන්නේ,
(1) රාජාවලියයි. (2) රාජරත්නාකරයයි. (3) නිකාය සංග්‍රහයයි. (4) විනයට්ඨකථාවයි.

**3.** වටිනා ඓතිහාසික මූලාශ්‍රයක් ලෙස සැලකෙන ශිලා ලිපි සම්බන්ධයෙන් **අදාළ නොවන** ප්‍රකාශය තෝරන්න.
(1) ශිලා ලිපිවල සඳහන් තොරතුරු සිද්ධීන්ට සමකාලීන වේ.
(2) වංස කතාවල දැක්වෙන තොරතුරු සනාථ කිරීමට උපකාරී වේ.
(3) අඛණ්ඩ දේශපාලන ඉතිහාසය ගොඩ නගා ගැනීමට යොදා ගත හැකි ය.
(4) සිංහල අක්ෂර පරිනාමය වූ ආකාරය දැන ගැනීමට ප්‍රයෝජනවත් ය.

**4.** බුලත්සිංහල, කුරුවිට වැනි ප්‍රදේශවල පිහිටි ලෙන් වැදගත් වන්නේ ඒවා,
(1) අනුරාධපුර-පොළොන්නරු යුගවලදී ආරක්ෂිත ස්ථාන වීම නිසා ය.
(2) පැරණි බෞද්ධ ආරාම ලෙස පැවතීම නිසා ය.
(3) බ්‍රාහ්මී අක්ෂර ලිපි ලිවීම සඳහා යොදා ගෙන ඇති නිසා ය.
(4) ප්‍රාග් ඓතිහාසික මානවයන්ගේ ජීවන තොරතුරුවලට අදාළ සාධක හමුවන නිසා ය.

**5.** පහත දැක්වෙන පුද්ගලයන් අතුරෙන් ශ්‍රී ලංකාවට පැමිණ තොරතුරු අධ්‍යයනය කොට වාර්තා සැකසූවන් දැක්වෙන පිළිතුර කුමක් ද?

A – මෙගස්තිනිස් B – ෆාහියන් හිමි
C – ටොලමි D – ඉබන් බතූතා
E – රොබට් නොක්ස් F – හියුං සියෑං

(1) B, D හා F (2) C, D හා E (3) B, D හා E (4) A, B හා D

**6.** ක්‍රි.ව. පස්වන ශත වර්ෂයේදී ශ්‍රී ලංකාවේ විසූ රාජකීය කාන්තාවන්ගේ ඇඳුම් පැළඳුම් හා විලාසිතා පිළිබඳ අවබෝධයක් ලබා ගැනීමට ඉවහල් වන්නේ කවරක් ද?
(1) සීගිරි පර්වතයෙහි ඇඳ ඇති කාන්තා රූප
(2) පුරා විද්‍යාත්මක කැනීම්වලින් හමුවූ ආභරණ කොටස්
(3) පොළොන්නරුවේ තිවංක පිළිමගෙයි ඇති චිත්‍ර සටහන්
(4) මහනුවර දළදා මාලිගාවේ ඇති චිත්‍ර

**7.** ශ්‍රී ලංකාවේ පූර්ව ඓතිහාසික යුගයට අයත් වැදගත් සිදුවීමක් වන්නේ,
(1) මැටි වළං භාවිතය ආරම්භ කිරීම ය.
(2) තිරිවානා හා කහඳගල් භාවිත කර ක්ෂුද්‍ර ගල් මෙවලම් නිපදවීම ය.
(3) ශාක හා සතුන් පුලුස්සා ආහාරයට ගැනීම ය.
(4) සංචාරක ජීවිතයක් ගත කරමින් ස්වාභාවික ගල්ගුහාවල ජීවත් වීම ය.

**8.** අදින් වසර 3000කට පමණ පෙරදී මෙරට විසූවන් දහනය සඳහා ඔක්සිජන් වායුව අවශ්‍ය බව දැන සිටි බවට ඉදිරිපත් කළ හැකි නිදසුනක් වන්නේ,
(1) කිතුල්ගල බෙලිලෙනින් හමු වූ පිළිස්සූ කැළෑ දෙල් ඇට ය.
(2) පුලුස්සා වර්ණවත් කළ මැටි බඳුන් ය.
(3) උඩ රංචාමඩමේ දී හමුවූ නිවාස නටබුන්වල පිළිස්සූ මැටි කැබලි ය.
(4) දිවයිනේ විවිධ ප්‍රදේශවල හමුවූ මැටිඔරු සුසාන ය.

**9.** මළ සිරුරු දිරා යන තුරු වළලා පසුව ගොඩ ගෙන හිස් කබල සුමට කිරීම, එහි ගුරුගල් ආලේප කිරීම යන චාරිත්‍ර විධි පිළිබඳව සාධක ලැබෙන්නේ මින් කවර කාල පරිච්ඡේදයක දී ද?
(1) පූර්ව ඓතිහාසික යුගය (2) ප්‍රාග් ඓතිහාසික යුගය
(3) මුල් ඓතිහාසික යුගය (4) ඓතිහාසික යුගය

**10.** ශ්‍රී ලංකාවේ මුල් ඓතිහාසික යුගයේ ජනාවාස ව්‍යාප්තිය ගංගා නිම්නවලින් පිටත ප්‍රදේශවල සිදුවූ බව නූතන පුරා විද්‍යාඥයන්ගේ මතය වී තිබේ. ඒ බව සනාථ කෙරෙන ගංගා නිම්නයක් වන්නේ කුමක් ද?
(1) ගල් ඔය (2) කිරිඳි ඔය (3) මල්වතු ඔය (4) යාන් ඔය

● යාබද රූපසටහනින් දැක්වෙන්නේ වැව් පද්ධතියකි. ඒ ආශ්‍රයෙන් අංක **11** සහ **12** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.



**11.** මෙවැනි වැව් පද්ධති නිර්මාණය කිරීමේ එක් අරමුණක් වන්නට ඇත්තේ,
(1) ජලය සංරක්ෂණය කර ගැනීම ය.
(2) ගංවතුර පාලනය කර ගැනීම ය.
(3) දේශගුණයේ සමබරතාව රැක ගැනීම ය.
(4) පාංශු ඛාදනය වළක්වා ගැනීම ය.

**12.** මෙවැනි වැව් පද්ධති බහුලව දක්නට ලැබෙන්නේ,
(1) තෙත් කලාපයේ ය. (2) වියළි කලාපයේ ය.
(3) කඳුරට තෙත් කලාපයේ ය. (4) පහත රට අතරමැදි තෙත් කලාපයේ ය.

**13.** ලංකා ඉතිහාසයේ පළමුවරට ඔයක් හරහා අමුණක් තැනූ පාලකයා වශයෙන් සැලකෙනුයේ,
(1) වසභ රජු ය. (2) මහසෙන් රජු ය. (3) පළමුවන අග්බෝ රජු ය. (4) ඉළනාග රජු ය.

**14.** සැලසුම, තාක්ෂණය හා අලංකරණය යන කරුණු අතින් ශ්‍රී ලංකාවේ විශිෂ්ටතම නාගරික උද්‍යානය ලෙස සැලකෙනුයේ,
(1) මහමෙව්නා උද්‍යානයයි. (2) දීප උද්‍යානයයි.
(3) සීගිරි උද්‍යානයයි. (4) රන්මසු උද්‍යානයයි.

**15.** විහාර ආරාමවලට කරන ලද පූජාවන් ගැන තොරතුරු ඇතුළත් ශිලාලිපිවල විවිධ සංකේත භාවිත කර ඇත. එහි හංසයා නිරූපණය කෙරෙන සංකේතයෙන් හැඟවෙන්නේ කුමක් ද?
(1) සෞභාග්‍යය (2) පාරිශුද්ධත්වය (3) ආරක්ෂාව (4) පූර්ණත්වය

**16.** අතීතයේදී මාර්ගවල දුර දැක්වීමට භාවිත කළ මිම්ම වූයේ,
(1) ගව්ව ය. (2) වියත ය. (3) කරිස ය. (4) අඟල ය.

**17.** පහත I තීරුවේ ශ්‍රී ලංකාවේ පැවති ග්‍රාමීය ජනාවාස කිහිපයක් දැක්වෙන අතර II තීරුවේ ඒවායේ ප්‍රධාන ආර්ථික කටයුත්ත කුමක්දැයි දැක්වේ.

| I **තීරුව** | II **තීරුව** |
|---|---|
| 1. කසීකාර ගම | A - ධීවර කර්මාන්තය |
| 2. ගෝපාල ගම | B - වළං තැනීම |
| 3. කේවට්ට ගම | C - වඩු කර්මාන්තය |
| | D - ගොවිතැන |
| | E - සත්ත්ව පාලනය |

I තීරුව අනුව II තීරුව ගැලපූ විට නිවැරදි පිළිතුර කුමක් ද?
(1) A, C හා E (2) C, B හා D (3) D, E හා A (4) E, B හා D

**18.** ශ්‍රී ලංකාව බහු වාර්ගික, බහු ආගමික මෙන් ම විවිධ සංස්කෘතීන්ට අයත් රටක් වීමට බලපෑ ප්‍රධාන හේතුව වන්නේ,
(1) දූපතක් වශයෙන් පිහිටීම ය. (2) ස්වාභාවික සම්පත් ඇති රටක් වීම ය.
(3) සැපවත් දේශගුණයක් සහිත රටක් වීම ය. (4) ඉන්දියන් සාගරයේ මධ්‍යගතව පිහිටීම ය.

**19.** පහත දැක්වෙන පාලක-පාලිකාවන් අතුරින් පොළොන්නරු රාජධානියට අයත් වන්නන් දැක්වෙන වරණය කුමක් ද?
A – වංකනාසික තිස්ස රජ B – කල්‍යාණවතී රැජින
C – වසභ රජ D – නිශ්ශංකමල්ල රජ
E – මහසෙන් රජ F – සහසමල්ල රජ
(1) A, C හා F (2) B, E හා F (3) A, B හා E (4) B, D හා F

**20.** අතීත සමාජයේ යම් අපරාධකරුවකු ගමක සැඟවී සිටින අවස්ථාවක ඔහු අල්ලා දීමේ වගකීම පැවරී තිබුණේ,
(1) ගමිකට ය. (2) ගමේ සියලු දෙනාට ය.
(3) දසගම් ඇත්තන්ට ය. (4) පරුමුකට ය.

**21.** පහත A සිට E තෙක් ලංකාවේ බලයට පත්වූ රජවරුන් කිහිපදෙනකු රාජ්‍යත්වයට පත්වීමට පෙර භාවිත කළ නම් දැක්වේ.
A – සපුමල් කුමරු B – මුත්තුසාමි කුමරු
C – ටිකිරි කුමරු D – මහා අස්ථාන කුමරු
E – කන්නසාමි කුමරු
ඒවා අධ්‍යයනය කර **පළමුවන රාජසිංහ, හයවන භුවනෙකබාහු** සහ **ශ්‍රී වික්‍රමරාජසිංහ** යන රජවරුන් භාවිත කළ නම් පිළිවෙළින් දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) C, A හා E (2) D, A හා B (3) C, A හා B (4) D, C හා B

**22.** ගම්පොළ රාජධානි සමයේ දේශපාලන ක්ෂේත්‍රයේ දැකිය හැකි විශේෂ ලක්ෂණය වන්නේ,
(1) හින්දු හා මහායාන බලපෑම නිසා පිළිම ගෙවල්වල දේවාල ඉදි කිරීම ය.
(2) සංදේශ කාව්‍ය ලිවීම ආරම්භ කිරීම ය.
(3) මව් පාර්ශ්වයෙන් රාජ්‍ය උරුමවීමේ ක්‍රමයක් ආරම්භ වීම ය.
(4) රාජ්‍ය උරුමය එකම රාජකීය පවුලක පිය-පුත්‍ර ක්‍රමයට හිමි වීම ය.

**23.** යාපන රාජ්‍යයේ බිඳ වැටීම සම්බන්ධ **සාවද්‍ය** ප්‍රකාශය තෝරන්න.
(1) රාජ්‍ය උරුමකරුවන් අතර ඇතිවූ බල අරගලය (2) යාපන පාලකයන්ට නිත්‍ය හමුදාවක් නොසිටීම
(3) ස්වාභාවික ආරක්ෂාවක් නොතිබීම (4) යාපනයේ බහුතර ජනතාව පෘතුගීසින්ට පක්ෂපාතී වීම

- පහත දැක්වෙන ඓතිහාසික සිදුවීම් ඇසුරින් **24** සහ **25** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

A – දන්තුරේ සටනින් පෘතුගීසින් පරාජය කිරීම
B – කුසුමාසන දේවි දෝන කතිරිනා නමින් බෞතීස්මය ලැබීම
C – නායක්කර් වංශයට මහනුවර රාජ්‍යයේ උරුමය හිමි වීම
D – මෙරට සියම් නිකායේ ආරම්භය සිදු වීම

**24.** ඉහත සිදුවීම්වල නිවැරදි ඓතිහාසික අනුපිළිවෙළ දක්වන්න.
(1) A, B, D හා C (2) B, C, A හා D (3) A, C, B හා D (4) B, A, C හා D

**25.** C අක්ෂරයෙන් දැක්වෙන ඓතිහාසික සිදුවීම හා සම්බන්ධ රජතුමා කවුරුන් ද?
(1) ශ්‍රී වීර පරාක්‍රම නරේන්ද්‍රසිංහ (2) කීර්ති ශ්‍රී රාජසිංහ
(3) ශ්‍රී විජය රාජසිංහ (4) රාජාධිරාජසිංහ

- පහත වගුවේ A සිට F තෙක් තොරතුරු ඇසුරින් **26** සහ **27** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

| බලපෑ හේතුව | නායකයා | ආණ්ඩුකාරවරයා |
|---|---|---|
| A - රජයේ බදු ප්‍රතිපත්තිය | C - කැප්පෙටිපොල දිසාව | E - ටොරින්ටන් සාමි |
| B - රජකු නැතිවීම පිළිබඳ පසුතැවිල්ල | D - ගොංගාලෙගොඩ බණ්ඩා | F - සර් රොබට් බ්‍රවුන්රිග් |

**26.** ක්‍රි.ව. 1818 නිදහස් සටන හා සම්බන්ධවන තොරතුරු දැක්වෙන පිළිතුර කුමක් ද?
(1) A, C හා E (2) B, C හා F (3) A, D හා F (4) B, D හා E

**27.** ක්‍රි.ව. 1848 නිදහස් සටන හා සම්බන්ධවන තොරතුරු දැක්වෙන පිළිතුර කුමක් ද?
(1) A, D හා E (2) B, D හා E (3) A, C හා F (4) B, C හා F

**28.** 19 වන සියවසේ දී ශ්‍රී ලංකාවේ ඇතිවූ ආගමික හා සංස්කෘතික ප්‍රබෝධය සම්බන්ධ අදහස් යුගල කිහිපයක් පහත දැක්වේ. මින් **නොගැළපෙන** යුගලය කුමක් ද?
(1) හෙන්රි ස්ටීල් ඕල්කට්තුමා - පරම විඥානාර්ථ සමාගම පිහිටුවීම
(2) හික්කඩුවේ ශ්‍රී සුමංගල හිමි - පැලියගොඩ විද්‍යාලංකාර පිරිවෙන ඇරඹීම
(3) ආරුමුග නාවලර්තුමා - උදයභානු පුවත්පත ඇරඹීම
(4) සිද්ධි ලෙබ්බෙ මහතා - මරදානේ සහිරා විදුහල පිහිටුවීම

**29.** ශ්‍රී ලංකාවේ බ්‍රිතාන්‍ය පාලනය නිසා හටගත් පහත දැක්වෙන වෙනස්කම් අතරින් සංස්කෘතික වෙනස්කම් දෙකක් දැක්වෙන පිළිතුර කුමක් ද?

A – කම්කරු පන්තියක් බිහිවීම
B – බටහිර ඇඳුම් පැළඳුම්, ආචාර විධි මෙරට සමාජ ගත වීම
C – බටහිර අධ්‍යාපනය ව්‍යාප්ත වීම
D – වැටුපට සේවය කරන ශ්‍රමික පිරිසක් බිහිවීම
E – වෘත්තීය සංගම් පිහිටුවීම

(1) B හා C (2) C හා D (3) B හා E (4) C හා E

**30.** ලංකා ජාතික සංගමයේ ප්‍රථම සභාපතිවරයා ලෙස පත්වූයේ කවුරුන් ද?
(1) සර්. ඩී.බී. ජයතිලක මහතා (2) පොන්නම්බලම් අරුණාචලම් මහතා
(3) එෆ්. ආර්. සේනානායක මහතා (4) පොන්නම්බලම් රාමනාදන් මහතා

**31.** 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව අනුව ජාතික වැදගත්කමකින් යුත් කරුණක් සම්බන්ධව තීරණයක් ගැනීම සඳහා අනුගමනය කළ හැකි ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රමය කුමක් ද?
(1) පාර්ලිමේන්තුවේ වාද විවාද පැවැත්වීම (2) ශ්‍රේෂ්ඨාධිකරණයට ඉදිරිපත් කොට තීන්දුවක් ලබා ගැනීම
(3) ජනමත විචාරණයක් පැවැත්වීම (4) රටේ විද්වතුන්ගෙන් අදහස් විමසීම

- පහත දැක්වෙන A හා B ඇසුරෙන් **32** සහ **33** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
  - A – ටෙනිස් පිටියේ දිවුරුම
  - B – සරයේවෝ සිද්ධිය

**32.** ප්‍රංශ විප්ලවය සම්බන්ධයෙන්,
(1) A හා B අසත්‍ය වේ.
(2) A හා B සත්‍ය වේ.
(3) A සත්‍ය වන අතර B අසත්‍ය වේ.
(4) A අසත්‍ය වන අතර B සත්‍ය වේ.

**33.** පළමුවන ලෝක මහා සංග්‍රාමය සම්බන්ධයෙන්,
(1) A හා B අසත්‍ය වේ.
(2) A හා B සත්‍ය වේ.
(3) A සත්‍ය වන අතර B අසත්‍ය වේ.
(4) A අසත්‍ය වන අතර B සත්‍ය වේ.

- පහත A, B, C හා D වලින් දැක්වෙන ප්‍රකාශ/පද යුගල අධ්‍යයනය කර **34** සිට **36** තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
  - A – 1. නාවුක හෙන්රි
    2. දේශගවේෂණය
  - B – 1. දෙවන ලෝක මහා සංග්‍රාමය
    2. ජාතීන්ගේ සංගමය
  - C – 1. කොන්ස්තන්තිනෝපලය තුර්කීන් අල්ලා ගැනීම
    2. පුනරුදය ඇරඹීම
  - D – 1. විශ්වය පිළිබඳ නව සොයා ගැනීම්
    2. විද්‍යාවේ දියුණුව

**34.** දෙවැන්න ක්‍රියාත්මක වීම සඳහා පළමුවැන්නේ අනුග්‍රහය පෙන්වන ප්‍රකාශ/පද යුගලය කුමක් ද?
(1) A (2) B (3) C (4) D

**35.** පළමුවැන්න හා දෙවැන්න අතර සම්බන්ධයක් **නොපෙන්වන** ප්‍රකාශ/පද යුගලය කුමක් ද?
(1) A (2) B (3) C (4) D

**36.** පළමුවැන්න දෙවැන්නේ වර්ධනයට හේතුවන බව දැක්වෙන ප්‍රකාශ/පද යුගලය කුමක් ද?
(1) A (2) B (3) C (4) D

- ලෝකයේ ප්‍රධාන විප්ලව හා සම්බන්ධ තොරතුරු කිහිපයක් පහත දැක්වේ. ඒවා ඇසුරින් **37** සහ **38** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
  - A - සාමය, ඉඩම් හා ආහාර
  - B - ස්ටේට්ස් ජනරල් සභාව
  - C - නියෝජනයක් නැත්නම් බදුත් නැත
  - D - බැස්ටිල බන්ධනාගාරයට පහර දීම

**37.** රුසියන් විප්ලවයේ තේමා පාඨය වන්නේ,
(1) A ය. (2) B ය. (3) C ය. (4) D ය.

**38.** ඇමෙරිකන් නිදහස් සටන හා සම්බන්ධ තොරතුරක් වන්නේ,
(1) A ය. (2) B ය. (3) C ය. (4) D ය.

**39.** පහත සඳහන් කාර්යයන් හා සම්බන්ධ එක්සත් ජාතීන්ගේ ආයතනය කුමක් ද?
- ආරක්ෂක මණ්ඩලයේ නිර්දේශ මත මහලේකම් පත් කිරීම
- අන්තර් ජාතික අධිකරණයට විනිශ්චයකරුවන් පත් කිරීම
- නව සාමාජිකයින් සංවිධානයට බඳවා ගැනීම

(1) මහා මණ්ඩලය
(2) භාරකාර මණ්ඩලය
(3) ආර්ථික හා සමාජීය මණ්ඩලය
(4) මහලේකම් කාර්යාලය

**40.** අමෙරිකන් හෝ රුසියන් පිලට ගැති නොවීමේ අවශ්‍යතාව පෙන්වා දෙමින් ස්වාධීන සංවිධානයක් පිහිටුවීමේ ව්‍යාපාරයේ ප්‍රමුඛත්වය ගත් ආසියානු නායකයා,
(1) ජවහර්ලාල් නේරු ය.
(2) එස්.ඩබ්.ආර්.ඩී. බණ්ඩාරනායක ය.
(3) අබ්දුල් ගමල් නසාර් ය.
(4) මාෂල් ටිටෝ ය.

* * *

2.1.3 I පත්‍රය සඳහා අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

| ප්‍රශ්න අංකය | පිළිතුර | ප්‍රශ්න අංකය | පිළිතුර |
|---|---|---|---|
| 01. | 2 | 21. | 1 |
| 02. | 3 | 22. | 3 |
| 03. | 3 | 23. | 4 |
| 04. | 4 | 24. | 4 |
| 05. | 3 | 25. | 3 |
| 06. | 1 | 26. | 2 |
| 07. | 1 | 27. | 1 |
| 08. | 4 | 28. | 2 |
| 09. | 2 | 29. | 1 |
| 10. | 2 | 30. | 2 |
| 11. | 1 | 31. | 3 |
| 12. | 2 | 32. | 3 |
| 13. | 4 | 33. | 4 |
| 14. | 3 | 34. | 1 |
| 15. | 2 | 35. | 2 |
| 16. | 1 | 36. | 4 |
| 17. | 3 | 37. | 1 |
| 18. | 4 | 38. | 3 |
| 19. | 4 | 39. | 1 |
| 20. | 2 | 40. | 1 |

වගුව 6

නිවැරදි එක් පිළිතුරකට ලකුණු 02 බැගින් මුළු ලකුණු 80කි.

I පත්‍රය සඳහා අවසන් ලකුණ $= \frac{80}{2} = 40$

2.1.4 **I** පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ - විෂය ක්ෂේත්‍ර අනුව



| විෂය ක්ෂේත්‍ර | ප්‍රශ්න සංඛ්‍යාව | පහසුතාව වැඩි ම ප්‍රශ්න අංකය හා එහි පහසුතාව | පහසුතාව අඩු ම ප්‍රශ්න අංකය හා එහි පහසුතාව |
|---|---|---|---|
| ශ්‍රී ලංකා ඉතිහාසය | 31 | 01 සහ 17 - 82% | 10 - 30% |
| ලෝක ඉතිහාසය | 9 | 33 - 71% | 34 සහ 40 - 49% |




2017 වසර ඉතිහාසය I පත්‍රය සැකසීමේ දී ශ්‍රී ලංකා ඉතිහාසය කොටසට ප්‍රශ්න 31ක් ද, ලෝක ඉතිහාසය කොටසට ප්‍රශ්න 09ක් ද, ඇතුළත් වී ඇත. ශ්‍රී ලංකා ඉතිහාසය සමස්ත පහසුතාව 59%ක් හා ලෝක ඉතිහාසය සමස්ත පහසුතාව 64%ක් ද බව අනාවරණය වේ.

ශ්‍රී ලංකා ඉතිහාසය කොටසේ සමස්ත පහසුතාව කෙරෙහි 6 - 11 ශ්‍රේණි දක්වා චිත්‍ර, බුද්ධ ධර්මය, සිංහල, ඉතිහාසය යන විෂයයන්වලින් විෂය කරුණු සිරස්ව හා තිරස්ව සමෝධානිකව පෝෂණය කර ගැනීමට හැකි වීම වාසි සහගත වී ඇත. විශේෂයෙන් දැනුම පදනම් කරගත් ප්‍රශ්නවල පහසුතාව ඉහළ අගයක් ගෙන ඇත. ශ්‍රී ලංකාවේ පිහිටීම, ප්‍රාග් ඓතිහාසික ස්ථාන, පූර්ව ඓතිහාසික ස්ථාන, මුල් ඓතිහාසික ස්ථාන, ආර්ථික, ආගමික හා සමාජ සිදුවීම් ඒවාට සම්බන්ධ රජවරු සහ ඒ පිළිබඳ තොරතුරු ලබාගත හැකි මූලාශ්‍රය, ජාතික ව්‍යාපාරය හා සම්බන්ධ නායකයින් යන තේමාවන් ඔස්සේ ගවේෂණාත්මක දැනුම පදනම් කරගෙන ප්‍රශ්න සැකසී ඇත.

ලෝක ඉතිහාසය සම්බන්ධ ප්‍රශ්නවල පහසුතාව 64%ක අගයක් ගනී. යුරෝපයේ පුනරුදය ඇති වීම, එයට බලපෑ හේතු, පුනරුදය ශ්‍රී ලංකාව කෙරෙහි ඇති කළ බලපෑම්, කාර්මික විප්ලවය, එහි ප්‍රධාන ක්ෂේත්‍ර කාර්මික විප්ලවයේ ප්‍රතිඵල, කාර්මික විප්ලවය ශ්‍රී ලංකාව කෙරෙහි බලපෑම, ලෝකයේ කැපී පෙනෙන විප්ලව, ලෝක මහා සංග්‍රාම හා සම්මුතීන් සහ ඒවායේ ප්‍රතිඵල මෙම කොටසට අයත් වේ. ලෝක ඉතිහාසයේ විවිධ සිදුවීම් ශ්‍රී ලංකාවේ සමාජ, ආර්ථික හා දේශපාලන ඉතිහාසයට විවිධ අවස්ථාවල දී බලපෑ ආකාරය පිළිබඳ ව විමසා බැලීම පහසුතාව කෙරෙහි බලපා ඇත.

2.1.5 **I** පත්‍රයේ එක් එක් ප්‍රශ්නයෙහි වරණ තෝරා ඇති ආකාරය - ප්‍රතිශත ලෙස

| ප්‍රශ්න අංකය | නිවැරදි වරණය | එක් එක් වරණය තෝරා ඇති ශිෂ්‍ය ප්‍රතිශතය | | | | ප්‍රතිචාර නොදැක්වූ |
|---|---|---|---|---|---|---|
| | | 1 | 2 | 3 | 4 | |
| 1 | 2 | 15.7% | **81.5%** | 1.4% | 1.4% | 0.1% |
| 2 | 3 | 19.2% | 3.5% | **58.5%** | 18.6% | 0.2% |
| 3 | 3 | 22.3% | 6.1% | **43.1%** | 28.2% | 0.3% |
| 4 | 4 | 4.4% | 9.3% | 9.8% | **76.1%** | 0.4% |
| 5 | 3 | 10.8% | 16.4% | **66.1%** | 6.4% | 0.3% |
| 6 | 1 | **67.1%** | 22.8% | 6.2% | 3.8% | 0.2% |
| 7 | 1 | **67.9%** | 11.1% | 9.8% | 11.0% | 0.3% |
| 8 | 4 | 10.7% | 16.2% | 14.1% | **58.4%** | 0.6% |
| 9 | 2 | 18.3% | **66.4%** | 10.5% | 4.5% | 0.3% |
| 10 | 2 | 13.6% | **29.6%** | 45.9% | 10.5% | 0.5% |
| 11 | 1 | **64.7%** | 21.0% | 6.9% | 7.3% | 0.2% |
| 12 | 2 | 9.9% | **67.1%** | 9.5% | 13.2% | 0.3% |
| 13 | 4 | 21.1% | 18.4% | 20.9% | **39.3%** | 0.4% |
| 14 | 3 | 12.1% | 3.4% | **77.7%** | 6.7% | 0.1% |
| 15 | 2 | 16.8% | **72.8%** | 3.9% | 6.2% | 0.3% |
| 16 | 1 | **81.3%** | 6.6% | 6.6% | 5.4% | 0.2% |
| 17 | 3 | 5.7% | 7.9% | **81.8%** | 4.7% | - |
| 18 | 4 | 8.8% | 21.4% | 8.6% | **60.9%** | 0.3% |
| 19 | 4 | 7.8% | 10.9% | 14.5% | **66.5%** | 0.4% |
| 20 | 2 | 24.7% | **60.5%** | 8.1% | 6.5% | 0.3% |
| 21 | 1 | **56.6%** | 17.2% | 19.1% | 7.0% | 0.2% |
| 22 | 3 | 9.0% | 24.3% | **39.6%** | 26.6% | 0.6% |
| 23 | 4 | 17.4% | 14.0% | 19.6% | **48.5%** | 0.4% |
| 24 | 4 | 13.9% | 19.5% | 17.0% | **49.2%** | 0.3% |
| 25 | 3 | 25.6% | 26.9% | **39.2%** | 8.1% | 0.2% |
| 26 | 2 | 9.3% | **66.3%** | 12.2% | 12.0% | 0.3% |
| 27 | 1 | **63.2%** | 12.0% | 16.1% | 8.4% | 0.3% |
| 28 | 2 | 14.1% | **48.3%** | 23.4% | 13.7% | 0.6% |
| 29 | 1 | **75.7%** | 7.2% | 12.0% | 4.8% | 0.3% |
| 30 | 2 | 20.6% | **42.5%** | 15.9% | 20.5% | 0.7% |
| 31 | 3 | 11.7% | 19.4% | **62.7%** | 5.9% | 0.3% |
| 32 | 3 | 10.2% | 9.2% | **68.2%** | 12.3% | 0.2% |
| 33 | 4 | 9.5% | 7.9% | 11.5% | **70.8%** | 0.3% |
| 34 | 1 | **49.3%** | 14.6% | 20.4% | 15.3% | 0.4% |
| 35 | 2 | 11.5% | **56.0%** | 18.5% | 13.7% | 0.3% |
| 36 | 4 | 9.9% | 11.4% | 28.3% | **50.0%** | 0.5% |
| 37 | 1 | **58.9%** | 7.4% | 27.5% | 5.9% | 0.4% |
| 38 | 3 | 12.2% | 15.7% | **52.6%** | 19.2% | 0.3% |
| 39 | 1 | **55.8%** | 15.4% | 9.0% | 19.7% | 0.2% |
| 40 | 1 | **49.2%** | 15.3% | 14.1% | 21.1% | 0.3% |

වගුව 7

එක් එක් ප්‍රශ්නය යටතේ නිවැරදි වරණය තෝරා ඇති ශිෂ්‍ය ප්‍රතිශතය අඳුරු කර දක්වා ඇත.

### 2.1.6. I පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :

2017 වර්ෂයේ 1 පත්‍රය සැකසීමේ දී ශ්‍රී ලංකා ඉතිහාසය කොටසට ප්‍රශ්න 31ක් ද ලෝක ඉතිහාසය කොටසට ප්‍රශ්න 09ක් ද ඇතුළත් කර ඇත.

I ප්‍රශ්න පත්‍රයේ පහසුතාව 60% ඉක්ම වූ ප්‍රශ්න ගණන 21කි. ශ්‍රී ලංකා ඉතිහාසයෙන් ප්‍රශ්න 19ක් ද, ලෝක ඉතිහාසයෙන් ප්‍රශ්න 02ක් ද ඊට ඇතුළත් වේ. ශ්‍රී ලංකා ඉතිහාසය කොටසේ 1, 16 සහ 17 යන ප්‍රශ්නවල පහසුතාව 80% ඉක්මවා ඇත. 1 වන ප්‍රශ්නය දේශීය සාහිත්‍ය මූලාශ්‍ර ඇසුරින් ද, 16 වන ප්‍රශ්නය පැරණි විද්‍යාව හා තාක්ෂණය ඇසුරින් ද, 17 වන ප්‍රශ්නය මුල් ඓතිහාසික යුගය ඇසුරින් ද සකස් කර ඇත. එම ප්‍රශ්නවලට සම්බන්ධ විෂය කරුණු තහවුරු වීම කෙරෙහි පෙළපොත පරිශීලනය හා ගුරුවරුන් විසින් භාවිත කරන ලද නිර්මාණාත්මක ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රමවේද විෂය දැනුම තහවුරු වීමට බලපා ඇති බව සිතිය හැක.

ශ්‍රී ලංකා ඉතිහාසයට අදාළ ව 40%ට අඩු පහසුතාවක් පෙන්වා ඇත්තේ 10, 13, 25 යන ප්‍රශ්න තුන පමණි. එයින් අඩු ම පහසුතාවක් පෙන්වා ඇත්තේ 10 වන ප්‍රශ්නයයි. එය 30%කි. එම ප්‍රශ්නය ශ්‍රී ලංකාව ජනාවාස වීම, මුල් ඓතිහාසික යුගය ඇසුරින් සකසා ඇත. ජනාවාස ව්‍යාප්තිය සහ එම කලාප පිළිබඳ අවබෝධය ශිෂ්‍යයා තුළ වැඩි දියුණු විය යුතු ය. මෙහි දී පෙළපොත පරිහරණයට උනන්දු කරවීම හා ගංගා නිම්න ආශ්‍රිත ජනාවාස බිහිවීම පිළිබඳ දැනුම තහවුරු කිරීම සඳහා විවිධ නිර්මාණාත්මක ඉගෙනුම් ක්‍රමවේද භාවිතයෙන් සාධන මට්ටම් ඉහළ නංවා ගත හැකි බව පෙන්වා දිය හැකි ය.

I පත්‍රයෙහි ලෝක ඉතිහාසය කොටසට ඇතුළත් ප්‍රශ්න 09න් පහසුතාව 50% ඉක්ම වූ ප්‍රශ්න සංඛ්‍යාව 06කි. එහි වැඩි ම පහසුතාව පෙන්නුම් කරන්නේ 33 ප්‍රශ්නය වන අතර, සිසුන්ගෙන් 71%ක් නිවැරදි වරණය තෝරා ගෙන ඇත. 34 සහ 40 ප්‍රශ්න දෙක සඳහා 49%ක අඩු පහසුතාවක් පෙන්වයි. එම ප්‍රශ්න සඳහා නිවැරදි වරණය තෝරාගෙන ඇත්තේ සිසුන්ගෙන් 49%ක පිරිසකි. මෙහි දී අදාළ පාඩම් පිළිබඳ දැනුම වැඩි දියුණු කිරීම සහ ප්‍රශ්න සකස් කරන විවිධ ප්‍රභේද පිළිබඳ හුරුව ලබා දීම අවශ්‍ය බව පෙනේ.

I පත්‍රයේ ලෝක ඉතිහාසය කොටසේ ප්‍රශ්න විශ්ලේෂණය කිරීමේ දී 71% සීමාවේ පහසුතාව පෙන්වා ඇත්තේ 33 වන ප්‍රශ්නය පමණි. අනෙකුත් සියලු ම ප්‍රශ්න 49% සිට 59% දක්වා පරාසයක පහසුතාව පෙන්නුම් කිරීම සුවිශේෂී වේ. ඉහත ප්‍රශ්න සකස් කොට ඇත්තේ 11 ශ්‍රේණිය පෙළපොතේ ලෝකයේ කැපී පෙනෙන විප්ලව සහ ලෝක මහා සංග්‍රාම සහ සම්මුතීන් යන අවසාන පාඩම් ඇසුරිනි. මෙම විෂය මාතෘකා පිළිබඳ ගුරු සිසු අවධානය වැඩි වශයෙන් යොමු කිරීම අවශ්‍ය වේ.

පළමුවන පත්‍රය පිළිබඳ ඉහළ සාධන මට්ටමක් ලබා දීම සඳහා ඉගෙනුම් ඉගැන්වීම් විෂය කරුණුවලට අදාළ ව පින්තූර, සිදුවීම් දර්ශන, සිතියම්, වගු සටහන් භාවිත කිරීම, අදාළ විෂය මාතෘකා පිළිබඳ ක්ෂේත්‍ර පොත් සකස් කරවීම, කෙටි ප්‍රශ්න සැකසීම, රජවරුන්ගේ පාලන සමය ඒ හා සම්බන්ධ සිදුවීම් වගු ගත කිරීම, දැනුම මිනුම තරග පැවැත්වීම, භූමිකා රංගන, ප්‍රියමනාප ඉගෙනුම් පරිසරයක් ඇති කිරීම වැනි ක්‍රියාකාරකම් තුළින් සාධන මට්ටම් වැඩි දියුණු කළ හැකි ය.

ඓතිහාසික සහ පුරාවිද්‍යාත්මක ස්ථාන නැරඹීම ගවේෂණය සඳහා සැලසුම් සහිත චාරිකා, පෙරහුරු සම්මන්ත්‍රණ පැවැත්වීම, විද්වත් සාකච්ඡා, ප්‍රදර්ශන, විෂය දින කඳවුරු සංවිධානය කිරීම වැදගත් සිදුවීම් ලේඛන ගත කර, පන්ති කාමරයේ ප්‍රදර්ශනය කිරීම තුළින් ද ඉහළ සාධන මට්ටමක් ළඟා කර ගත හැකි ය.

ඉතිහාසය විෂය උගන්වන ගුරුභවතුන් තම දැනුම වැඩි දියුණු කර ගැනීම සහ යාවත්කාලීන කර ගැනීම සඳහා පුහුණු අවස්ථාවලට සහභාගී වීම, පාඨමාලා හැදෑරීම, පොත්පත් කියවීම, නව ඉගැන්වීම් ඉගෙනුම් ක්‍රම භාවිතය හා නව තාක්ෂණය භාවිත කිරීමට යොමු වීම විෂය අරමුණු සාක්ෂාත් කර ගැනීම සඳහා ඉවහල් වනු ඇත.

## 2.2 II පත්‍රය හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

### 2.2.1 II පත්‍රයේ ව්‍යුහය

**II පත්‍රය** - කාලය පැය 03යි. මුළු ලකුණු 120යි.
මෙය I, II හා III වශයෙන් ප්‍රධාන කොටස් 3කින් යුක්ත ය.

**I කොටස**

පළමුවන ප්‍රශ්නය අනිවාර්ය ප්‍රශ්නයකි. එහි (අ) හා (ආ) වශයෙන් කොටස් දෙකකි.
(අ) කොටස - සිතියම් ලකුණු කිරීම - ලකුණු 18යි.
(ආ) කොටස - ඓතිහාසික සිද්ධි හා පින්තූර ආශ්‍රිත කොටස් තුනකින් සමන්විත ය. ලකුණු 12යි.

ලකුණු 18 + 12 = 30

**II කොටස**

ව්‍යුහගත, අර්ධ ව්‍යුහගත හා රචනා වර්ගයේ ප්‍රශ්න 6කින් සමන්විත ය. ඉන් 4කට පිළිතුරු සැපයිය යුතු ය. මෙම ප්‍රශ්න, නිපුණතා මට්ටම්වලට වෙන් කර ඇති කාලච්ඡේද සංඛ්‍යාවට අනුකූල ව පහත පාඩම් ඒකකවලින් සකස් කර ඇත.

**10 ශ්‍රේණිය - 1, 2, 3, 4, 5, 6, 7, 8, 10**
**11 ශ්‍රේණිය - 2, 3, 4, 5, 6**

ලකුණු 18 × 4 = 72

**III කොටස**

ව්‍යුහගත, අර්ධ ව්‍යුහගත හා රචනා වර්ගයේ ප්‍රශ්න 2කින් සමන්විත ය. ඉන් එකකට පිළිතුරු සැපයිය යුතු ය. මෙම ප්‍රශ්න, නිපුණතා මට්ටම්වලට වෙන් කර ඇති කාලච්ඡේද සංඛ්‍යාවට අනුකූල ව පහත පාඩම් ඒකකවලින් සකස් කර ඇත.

**10 ශ්‍රේණිය - 9**
**11 ශ්‍රේණිය - 1, 7, 8**

ලකුණු 18 × 1 = 18

**අවසාන ලකුණ ගණනය කිරීම :** I පත්‍රය = 80
II පත්‍රය = 120
අවසාන ලකුණ = 200 ÷ 2 = 100

.

2.2.2 II පත්‍රය සඳහා අපේක්ෂිත පිළිතුරු, ලකුණු දීමේ පටිපාටිය, පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, නිගමන හා යෝජනා

| |
|---|
| II පත්‍රයෙහි එක් එක් ප්‍රශ්නය සඳහා පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ ප්‍රස්තාර 2, 3, 4.1, 4.2, හා 4.3 ඇසුරෙන් ඉදිරිපත් කර ඇත. ප්‍රශ්නයට අදාළ ප්‍රස්තාර කොටස ඒ ඒ ප්‍රශ්නයේ නිරීක්ෂණ හා නිගමන සමග දක්වා ඇත. |

## I කොටස

1 ප්‍රශ්නය

**1.** **(අ)** පහත (i) යටතේ දක්වා ඇති ඓතිහාසික ස්ථාන **සියල්ල ම** සපයා ඇති ශ්‍රී ලංකා සිතියමෙහි ද (ii) යටතේ දක්වා ඇති ඓතිහාසික ස්ථාන **සියල්ල ම** සපයා ඇති ලෝක සිතියම් කොටසෙහි ද ලකුණු කර නම් කරන්න.

(i) කිරිඳි ඔය, ඉරණමඩු වැව, දේවනගර, සල්වතොට, කන්තරෝඩය (කඳුරුගොඩ), සොරබොර වැව, ගන්නොරුව, ශ්‍රී ජයවර්ධනපුර කෝට්ටේ, කලාඔය, ෆ්‍රෙඩ්රික් කොටුව, පොම්පරිප්පු, ගාලු වරාය (ලකුණු 12 යි)

(ii) බොම්බාය, රතු මුහුද, රෝමය, මලය අර්ධද්වීපය, ජපන් දූපත්, පෘතුගාලය (ලකුණු 06 යි)

**(ආ)** (i) පහත *A*, *B*, *C* හා *D* යටතේ දක්වා ඇති ඓතිහාසික තොරතුරුවලට අදාළ පිළිතුරු අනුපිළිවෙළින් ඔබේ පිළිතුරු පත්‍රයේ ලියා දක්වන්න.

*A* - යුරෝපීය ජාතීන්ගේ ආගමනයට පෙර ඉන්දියන් සාගරයේ වෙළෙඳ ඒකාධිකාරය හිමි කර ගත් ජාතිය

*B* - පෘතුගීසින් මෙරටින් නෙරපීමට නාවුක බලයක් ඇති විදේශීය ජාතියක සහාය ලබා ගත් උඩරට රජතුමා

*C* - ගල්පොත ශිලාලිපිය කරවූ පොළොන්නරු පාලකයා

*D* - දෙවන ලෝක මහා සංග්‍රාම සමයේදී පළමු න්‍යෂ්ටික බෝම්බ ප්‍රහාරයට ලක්වූ නගරය (ලකුණු 04 යි)

- *A* සහ *B* යටතේ දක්වා ඇති පින්තූර අධ්‍යයනය කොට, අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු අංක අනුපිළිවෙළින් ඔබේ පිළිතුරු පත්‍රයේ ලියන්න.

(ii) 1. '*A*' වලින් දැක්වෙන නිර්මාණය කුමක් ද?
2. එයින් කෙරෙන කාර්යය කුමක් ද?
3. මේවා කවර වාරි නිර්මාණයක් ආශ්‍රිතව දැකිය හැකි වේ ද?
4. මේවා නිර්මාණය කිරීමට යොදාගත් ද්‍රව්‍යයක් සඳහන් කරන්න.

(ලකුණු 04 යි)



*A*

(iii) 1. '*B*' වලින් දැක්වෙන්නේ කුමක් ද?
2. එය පිහිටා ඇති නගරය කුමක් ද?
3. මෙය භාවිත කර ඇත්තේ කවුරුන් රැඳවීම සඳහා ද?
4. ලෝකයේ කවර විප්ලවයක් හා මෙය සම්බන්ධ ද?

(ලකුණු 04 යි)



*B*

